ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம் இலங்கைப் பரீட்சைத் திணைக்களம் இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka Department of Examinations, Sri Lanka Department of Examinations, Sri Lanka
ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2016 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2016 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2016

| | |
|---|---|
| භූගෝල විද්‍යාව | I |
| புவியியல் | I |
| Geography | I |

**22 S I**

පැය දෙකයි
இரண்டு மணித்தியாலம்
*Two hours*

35733

විභාග අංකය : ..........................

**උපදෙස් :**

- ❋ මෙම ප්‍රශ්න පත්‍රය කොටස් **දෙකකින්** සමන්විත වේ.
- ❋ **I කොටසට** බහුවරණ ප්‍රශ්න **30** ක් ඇතුළත් වේ. **I කොටසට** පිළිතුරු **මෙම ප්‍රශ්න පත්‍රයේ ම** ලිවිය යුතු වේ.
- ❋ **I** සහ **II** කොටස්වලට සපයන ලද පිළිතුරු පත්‍ර එකට අමුණා භාරදිය යුතු වේ.

**පරීක්ෂකගේ ප්‍රයෝජනය සඳහා පමණි.**

| | ප්‍රශ්න අංක | ලකුණු |
|---|---|---|
| I කොටස | 1 - 30 | |
| II කොටස | 1 | |
| | 2 | |
| | 3 | |
| එකතුව | | |

| | අත්සන | සංකේත අංකය |
|---|---|---|
| 1 වන පරීක්ෂකගේ | | |
| 2 වන පරීක්ෂකගේ | | |
| අති. ප්‍රධාන පරීක්ෂකගේ | | |
| ප්‍රධාන පරීක්ෂකගේ | | |
| ගණිත පරීක්ෂකගේ | | |

## I කොටස

- ප්‍රශ්නවලට නිවැරදි පිළිතුර තෝරා, එහි **අංකය** ප්‍රශ්නය ඉදිරියේ ඇති **තිත් ඉර මත** ලියන්න.

**1.** ශ්‍රී ලංකාවේ 1 : 50000 භූ ලක්ෂණ සිතියම්වල හඳුනාගත හැකි ජලවහන ලක්ෂණ තුනක් ඇතුළත් වන්නේ පහත සඳහන් කුමන පිළිතුරෙහි ද?
(1) දියබෙත්ම, දඹය, වගුර
(2) ගංදෙණරය, මොහොර, ජාලාකාර ජලවහනය
(3) හැඩපලු ගංගාව, ගංදෙණරය, උල්පත
(4) ගල් වන, දූනු විල, මොහොර
(5) උල්පත, මෝය, සෑදල කපොල්ල (......)

**2.** සංඛ්‍යාත බහුඅස්‍රයක් වඩාත් හොඳින් පැහැදිලි කෙරෙන ප්‍රකාශය තෝරන්න.
(1) සෑම දත්ත පන්තියක ම මුළු අගය ඉදිරිපත් කෙරෙයි.
(2) ජාලරේඛයෙහි සෑම තීරුවක ම මධ්‍ය ලක්ෂ්‍ය සම්බන්ධ කර අඳිනු ලැබේ.
(3) සෑම දත්ත පන්තියක ම සමුච්චිත වටිනාකම් ඉදිරිපත් කෙරෙයි.
(4) මධ්‍යස්ථයෙහි සිට එක් එක් අගය දක්වන අපගමනය පෙන්වයි.
(5) දත්ත ශ්‍රේණියක් ආරෝහණ පිළිවෙළට සකස් කර දක්වයි. (......)

**3.** රටක ජන සංක්‍රමණ දිශාව සහ පරිමාව දැක්වීම සඳහා වඩාත් උචිත සිතියම් විද්‍යාත්මක ක්‍රමය වන්නේ,
(1) සංයුක්ත තීරු ප්‍රස්තාර ය.
(2) රේඛාංකිත සිතියම ය.
(3) ධාරා සටහන් ය.
(4) ඔරලෝසු ප්‍රස්තාර ය.
(5) ද්විත්ව තීරු ප්‍රස්තාර ය. (......)

**4.** සන්තතික දත්ත නිරූපණය සඳහා පහත සඳහන් කවර සිතියම් විද්‍යාත්මක ක්‍රමය භාවිත කළ හැකි ද?
(1) තිත් සිතියම
(2) රේඛා ප්‍රස්තාරය
(3) තීරු ප්‍රස්තාරය
(4) බෙදනු ලැබූ වෘත්ත
(5) ධාරා සටහන (......)

**5.** භූගෝලීය තොරතුරු පද්ධති (GIS) තුළ අඩංගු ප්‍රධාන දත්ත වර්ග දෙක කුමක් ද?
(1) නාමමාත්‍ර හා තරා දත්ත
(2) සන්තතික හා විවික්ත දත්ත
(3) අවකාශීය හා අවකාශීය නොවන දත්ත
(4) ගෝලීය ස්ථානගත කිරීමේ පද්ධති දත්ත හා දුරස්ථ සංවේද දත්ත
(5) ලෑන්ඩ්සැට් (Landsat) ප්‍රතිබිම්බ හා ගූගල් දත්ත (......)

[ දෙවැනි පිටුව බලන්න.

**6.** 'දුරස්ථ සංවේදය' යනුවෙන් අදහස් කෙරෙනුයේ කුමක් ද?
(1) දුරස්ථ ප්‍රදේශයන්ට අදාළ දත්ත රැස්කිරීමේ ක්‍රමය
(2) අන්තර්ජාලයෙන් දත්ත බාගතකිරීමේ (downloading) ක්‍රමය
(3) ගෝලීය ස්ථානගත කිරීමේ පද්ධති මගින් දත්ත රැස්කරනු ලබන ක්‍රමය
(4) අරමුණ කරා නොගොස් දත්ත ග්‍රහණය කිරීමට හැකි ක්‍රමවේදය
(5) මෑත කාලීන ව හඳුන්වා දෙන ලද දත්ත විශ්ලේෂණය කිරීමට යොදාගනු ලබන ක්‍රමය (......)

**7.** අවකාශීය **නොවන** දත්තවලට නිදසුනක් දැක්වෙන්නේ පහත සඳහන් කුමන පිළිතුරෙහි ද?
(1) කොළඹ නගරයෙහි මුළු ජන සංඛ්‍යාව
(2) කොට්ටාව සිට ගාල්ල දක්වා අධිවේගී මාර්ග පථය
(3) ශ්‍රී ලංකාවෙහි බටහිර වෙරළ තීරය
(4) ගමක නිවාස ඒකකවල ව්‍යාප්තිය
(5) ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයක කුඹුරු ඉඩම්වල මායිම් (......)

**8.** පිළිවෙළට සකස් කරන ලද දත්ත පෙළක මැද අගය වනුයේ,
(1) මාතයයි. (2) මධ්‍යනයයි. (3) මධ්‍යස්ථයයි.
(4) පරාසයයි. (5) කේන්ද්‍රික ප්‍රවණතාවයි. (......)

**9.** 2015 වසරෙහි කොළඹ නගරයෙහි සිදු වූ රිය අනතුරු සංඛ්‍යාව,
(1) විවික්ත දත්තයකි. (2) සන්තතික දත්තයකි.
(3) ගුණාත්මක දත්තයකි. (4) නාමමාත්‍ර දත්තයකි.
(5) තරා දත්තයකි. (......)

**10.** පහත දැක්වෙන දෑ අතුරෙන් කුමක් ගුණාත්මක දත්ත වේ ද?
(1) ශිෂ්‍යයකුගේ උස
(2) කිසියම් නිෂ්පාදනයක් සඳහා වන කැමැත්ත හෝ අකමැත්ත
(3) රජයේ සේවකයින් කණ්ඩායමක මාසික ආදායම
(4) කුඹුරු කට්ටියකින් ලත් අස්වැන්න
(5) සමාගමක ලාභය (......)

**11.** මහාද්වීපික ග්ලැසියර මගින් නිර්මාණය වන නිධිසාධිත භූරූප දෙකක් නිවැරදි ව දැක්වෙන්නේ පහත සඳහන් කවර පිළිතුරෙහි ද?
(1) විෂම ප්‍රාන්ත හෙල සහ සර්ක (2) එස්කර සහ කේම
(3) විෂම ප්‍රාන්ත හෙල සහ අරේට (4) රෝෂ් මොටුන්නේ සහ සර්ක
(5) අරේට සහ රෝෂ් මොටුන්නේ (......)

**12.** කෙපන්ගේ දේශගුණික වර්ගීකරණයට අනුව මධ්‍යධරණී දේශගුණය දක්වන සංකේතය කුමක් ද?
(1) BSk (2) Cfa (3) Csa (4) Dfa (5) Dfc (......)

**13.** ශ්‍රී ලංකාවේ වියළි කලාපයට සීමා වූ ප්‍රධාන පාංශු වර්ග දෙක වන්නේ,
(1) රතු දුඹුරු පස සහ රතු කහ පොඩ්සොලික් ය.
(2) රතු කහ ලැටසොල් සහ රතු කහ පොඩ්සොලික් ය.
(3) රතු දුඹුරු පස සහ චූර්ණමය නො වන දුඹුරු පස ය.
(4) රතු කහ පොඩ්සොලික් සහ චූර්ණමය නො වන දුඹුරු පස ය.
(5) රතු දුඹුරු පස සහ රතු කහ ලැටසොල් ය. (......)

**14.** රසායනික ප්‍රතික්‍රියා මගින් නිර්මාණය වන අවසාදිත පාෂාණ වර්ග දෙකක් නිවැරදි ව දැක්වෙන්නේ පහත සඳහන් කවර පිළිතුරෙහි ද?
(1) ජිප්සම් සහ ශල්ක (2) ඩොලමයිට් සහ හුනුගල්
(3) ශල්ක සහ හුනුගල් (4) ජිප්සම් සහ ලිමොනයිට්
(5) හුනුගල් සහ ලිමොනයිට් (......)

**15.** සූර්ය සමීපකය සහ සූර්ය දුරකය පිහිටන මාස දෙක පිළිවෙළින් දැක්වෙන පිළිතුර කුමක් ද?
(1) ජනවාරි සහ ජූලි (2) ජූලි සහ ජනවාරි
(3) ජනවාරි සහ ඔක්තෝබර් (4) ඔක්තෝබර් සහ ජනවාරි
(5) ජූලි සහ ඔක්තෝබර් (......)

**16.** පාෂාණවලින් සැදුම්ලත් වෙරළක, තරංග ක්‍රියාව ආශ්‍රිත භූ ලක්ෂණයක් වන්නේ,
(1) මුහුදු කුළු ය. (2) ඉන්සෙල්බර්ග් ය. (3) වැලි තුඩ ය.
(4) පියෝඩය ය. (5) වැල්ල ය. (......)



[තුන්වැනි පිටුව බලන්න.

**17.** ආක්‍රාන්ත යමහල් ක්‍රියාකාරිත්වය නිසා නිර්මාණය වන භූ ලක්ෂණ තුනක් නිවැරදි ව දැක්වෙන්නේ පහත සඳහන් කවර පිළිතුරෙහි ද?

(1) ඩයිකය, ආස්තර, ජිද්‍රය (2) ආස්තර, ලැකොලිත, හෝස්ට්
(3) ඩයිකය, ආස්තර, ලැකොලිත (4) ලැකොලිත, පාකොලිත, ක්‍රේට
(5) ක්‍රේට, ආස්තර. ලැකොලිත (......)

**18.** ගංගා ද්‍රෝණියක යෞවන අවධියෙහි දී දැකිය හැකි භූ ලක්ෂණ තුනක් සඳහන් පිළිතුර කුමක් ද?

(1) පටු නිම්න, ගංගා විලෝපය, දිය ඇලි (2) ගංගා විලෝපය, ගං කණ්ඩි, ගං දඟර
(3) දිය ඇලි, පළල් නිම්න, දුනු විල් (4) පිටාර තැන්න, ගංගා විලෝපය, ඩෙල්ටාව
(5) දියලු අවාන්, දිය ඇලි, ගං කණ්ඩි (......)

**19.** ශ්‍රී ලංකාවේ ඛනිජ වැලි නිධි පිහිටා ඇති ස්ථාන තුනක් නිවැරදි ව දැක්වෙන්නේ කුමන පිළිතුරෙහි ද?

(1) එප්පාවල, කයිකාවල, සේරුවිල (2) කයිකාවල, පොල්කොටුව, එප්පාවල
(3) පුල්මුඩේ, එප්පාවල, රත්නපුර (4) පුල්මුඩේ, කයිකාවල, පොල්කොටුව
(5) ගාල්ල, පොල්කොටුව, මඩකලපුව (......)

**20.** ශ්‍රී ලංකාවේ තෙත් පතන තෘණ භූමි පිහිටි ප්‍රදේශ තුනක් දැක්වෙන පිළිතුර කුමක් ද?

(1) හෝර්ටන් තැන්න, අඹේවෙල, බෝපත්තලාව
(2) අඹේවෙල, බෝපත්තලාව, හග්ගල
(3) හෝර්ටන් තැන්න, නකල්ස්, හග්ගල
(4) බෝපත්තලාව, සමනල කන්ද, යාල
(5) හග්ගල, අඹේවෙල, උඩවලව (......)

**21.** වයස අවුරුදු 14 ට අඩු සහ වයස අවුරුදු 65 ට වැඩි ජන සංඛ්‍යාවේ එකතුව, වයස අවුරුදු 15 සිට 64 තෙක් ජන සංඛ්‍යාවෙන් බෙදූ විට, එය හැඳින්වෙන්නේ පහත දැක්වෙන කුමන පිළිතුරෙන් ද?

(1) ළමා යැපුම් අනුපාතය (2) යැපුම් අනුපාතය
(3) මහළු යැපුම් අනුපාතය (4) ළමා වැඩිහිටි අනුපාතය
(5) වයස් පුම්තිරි අනුපාතය (......)

**22.** යුරෝපා රටවල නාගරීකරණය ආරම්භ වීමට මුල් වූ පළමුවන පූර්ව අවශ්‍යතාව කුමක් ද?

(1) පළාත් පාලන යාන්ත්‍රණයක් පිහිටුවීම
(2) යටත් විජිත පිහිටුවීම
(3) ග්‍රාමීය අංශයේ කෘෂිකාර්මික අතිරික්තයක් නිපදවීම
(4) රටේ භූමියේ අයිතිය පෞද්ගලීකරණය
(5) ප්‍රාදේශීය සංවර්ධන වැඩසටහන් (......)

**23.** පහත් ප්‍රදේශවල පිහිටි තෘණ භූමිවල සිට කඳුකර කලාප දක්වා සෘතු ගතිකව සත්ත්වයින් සංක්‍රමණය කරවීම හැඳින්වෙන්නේ,

(1) සියුම් පාරිභෝගික ගොවිතැන යනුවෙනි. (2) මිශ්‍ර ගොවිතැන සහ සත්ත්ව පාලනය යනුවෙනි.
(3) ශෂ්‍ය මාරුව යනුවෙනි. (4) ගොදුරු බිම් මාරුව යනුවෙනි.
(5) සල ගොවිතැන යනුවෙනි. (......)

**24.** ආසියාවේ හරිත විප්ලවයෙහි මුඛ්‍ය අරමුණ වූයේ,

(1) වාණිජ කෘෂිකර්මයෙහි භෝග අස්වැන්න වැඩි දියුණු කිරීමයි.
(2) ජනතාව අතර පැවති සාගින්න අඩු කිරීමයි.
(3) මිනිස් ආහාර වේලට විවිධත්වයක් එකතු කිරීම සඳහා නව ආහාර වර්ග නිපදවීමයි.
(4) ඌන සංවර්ධිත බිම් ප්‍රදේශ නාගරීකරණයෙන් බේරා ගැනීමයි.
(5) පරිසරයට අඩු හානිකර පොහොර වර්ග භාවිතය ධෛර්යමත් කිරීමයි. (......)

**25.** ලෝකයේ මුල්කාලීන ශිෂ්ටාචාර ප්‍රධාන වශයෙන් ම දියුණු වූයේ,

(1) කාර්මීකරණයට උපකාරී වූ ඛනිජ සම්පත් බහුල ව තිබූ ප්‍රදේශවල ය.
(2) භෝග මිශ්‍රණයක් වගා කළ හැකි දේශගුණ විවිධත්වයක් ඇති ප්‍රදේශවල ය.
(3) ජනතාවට ආරක්ෂාකාරී ව ජීවත් විය හැකි කඳුකර ප්‍රදේශවල ය.
(4) දඩයම් කිරීම කළ හැකි 'සැවනා' ප්‍රදේශවල ය.
(5) කෘෂිකර්මය කරගෙන යා හැකි වූ ගංගා නිම්න ප්‍රදේශවල ය. (......)

**26.** රටක ජන සංඛ්‍යාවේ වර්ධනය තීරණය කරන සාධක තුන වන්නේ,

(1) උපත්, මරණ සහ ආයු අපේක්ෂාව ය. (2) උපත්, මරණ සහ විගමනය ය.
(3) උපත්, මරණ සහ සංක්‍රමණය ය. (4) උපත්, මරණ සහ ආගමනය ය.
(5) උපත්, ස්වභාවික වර්ධනය සහ විගමනය ය. (......)



[හතරවැනි පිටුව බලන්න.

**27.** 'සිලිකන් නිම්නය' තුළ ඒකරාශී වී ඇත්තේ,
(1) සිලිකා වැලි ආශ්‍රිත නිෂ්පාදන කර්මාන්ත ය. (2) පෙට්‍රොරසායන කර්මාන්ත ය.
(3) සංචාරක ක්ෂේත්‍රය ආශ්‍රිත කර්මාන්ත ය. (4) අධි තාක්ෂණික කර්මාන්ත ය.
(5) මෝටර් රථ නිෂ්පාදන කර්මාන්ත ය. (……)

**28.** මහවැලි සංවර්ධන ව්‍යාපාරයට අයත් 'නොච්චියාගම' හා 'අරලගංවිල' යන කුඩා නාගරික මධ්‍යස්ථාන පිහිටා ඇති කලාප නිවැරදි ව පිළිවෙළින් දැක්වෙන පිළිතුර කුමක් ද?
(1) H සහ C (2) H සහ B (3) C සහ L (4) C සහ G (5) H සහ L (……)

**29.** අග්නිදිග ආසියාවේ වඩාත් ම ජනාධික රට කුමක් ද?
(1) කාම්බෝජය (2) වියට්නාමය (3) සිංගප්පූරුව (4) ඉන්දුනීසියාව (5) ලාඕසය (……)

**30.** ලෝකයේ විශාලතම තිරිඟු නිෂ්පාදන රටවල් හතර අවරෝහණ වශයෙන් නිවැරදිව දැක්වෙන්නේ කුමන පිළිතුරෙහි ද?
(1) ඇමෙරිකා එක්සත් ජනපදය, රුසියාව, චීනය, ඉන්දියාව
(2) ඉන්දියාව, ඇමෙරිකා එක්සත් ජනපදය, රුසියාව, චීනය
(3) චීනය, ඉන්දියාව, ඇමෙරිකා එක්සත් ජනපදය, රුසියාව
(4) චීනය, රුසියාව, ඉන්දියාව, ඇමෙරිකා එක්සත් ජනපදය
(5) රුසියාව, ඇමෙරිකා එක්සත් ජනපදය, චීනය, ඉන්දියාව (……)

* *

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2016 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2016 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2016

භූගෝල විද්‍යාව I
புவியியல் I
Geography I

22 S I

35733

## II කොටස

**උපදෙස්:**

* **පළමුවැනි** ප්‍රශ්නයටත්, **දෙක** හා **තුන** ප්‍රශ්නවලින් **එකක්** තෝරාගෙන **ප්‍රශ්න දෙකකට පමණක්** පිළිතුරු සපයන්න.
* 1 : 50 000 බිබිල භූ ලක්ෂණ සිතියමෙන් කොටසක් හා ප්‍රස්තාර කඩදාසියක් ඔබට සපයා ඇත.

**1.** ශ්‍රී ලංකා මිනින්දෝරු දෙපාර්තමේන්තුව විසින් ප්‍රකාශයට පත් කරන ලද 1 : 50 000 පරිමාණයේ බිබිල භූ ලක්ෂණ සිතියමෙන් කොටසක් ඔබට සපයා ඇත. එහි සමෝච්ච රේඛා අන්තරය අඩි 100 කි. එම සිතියම පදනම් කරගනිමින් පහත දැක්වෙන ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

**සැලකිය යුතුයි:**

* **පිළිතුරු සිතියමෙහි ලිවිය යුතු නො වේ.**
* ප්‍රශ්න අංකය සහ අදාළ උපකොටස්වල අංක පිළිතුරු පත්‍රයේ පැහැදිලි ව සඳහන් කළ යුතු ය.
* සිතියම ඔබේ පිළිතුරු පත්‍රයට ඇමිණිය යුතු **නො වේ**.

(i) A සහ B යන චතුරස්‍ර තුළ දැක්වෙන භූ රූප **දෙක** නම් කරන්න. (ලකුණු 01 යි)

(ii) C සහ D යන චතුරස්‍ර තුළ දැක්වෙන ජනාවාස වර්ග **දෙක** නම් කරන්න. (ලකුණු 01 යි)

(iii) E, F, G සහ H යන අක්ෂරවලින් ලකුණු කරන ලද ස්ථානවල දැකිය හැකි භූමි පරිහරණ වර්ග **හතර** නම් කරන්න. (ලකුණු 02 යි)

(iv) සිතියම් ප්‍රදේශයේ මාර්ග පද්ධතියෙහි දක්නට ලැබෙන ප්‍රධාන ලක්ෂණ කෙටියෙන් සාකච්ඡා කරන්න. (ලකුණු 04 යි)

(v) සිතියම් ප්‍රදේශයෙහි නිරිතදිග කාර්තුවෙහි මානව ජනාවාස ව්‍යාප්තිය භූ විෂමතාව මගින් සීමා වී ඇති ආකාරය පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

(vi) සිතියම් ප්‍රදේශයේ පොදු සේවාවල ව්‍යාප්තිය සැකෙවින් විස්තර කරන්න. (ලකුණු 06 යි)

**2.** (i) භූගෝලීය තොරතුරු පද්ධති (GIS) යන්න නිර්වචනය කරන්න. (ලකුණු 02 යි)

(ii) භූගෝලීය තොරතුරු පද්ධති හා සාම්ප්‍රදායික සිතියම් විද්‍යාත්මක ක්‍රම අතර පවත්නා සමානකම් **දෙකක්** සඳහන් කරන්න. (ලකුණු 04 යි)

(iii) සාම්ප්‍රදායික සිතියම් විද්‍යාත්මක ක්‍රම හා සැසඳීමේ දී භූගෝලීය තොරතුරු පද්ධතිවල පවත්නා වාසි **හතරක්** කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 08 යි)

(iv) නවීන සිතියම් විද්‍යාව ආශ්‍රිත ප්‍රධාන භාවිත **තුනක්** කෙටියෙන් සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

3. වර්ෂ 1991 සිට 2005 දක්වා නුවරඑළියෙහි වාර්ෂික වර්ෂාපතන දත්ත **වගු අංක 1** හි දැක්වේ.

**වගු අංක 1 :- නුවරඑළිය වාර්ෂික වර්ෂාපතනය 1991 – 2005**

| වර්ෂය | වර්ෂාපතනය (mm) |
|---|---|
| 1991 | 1836.6 |
| 1992 | 1842.4 |
| 1993 | 2097.8 |
| 1994 | 2303.4 |
| 1995 | 2082.5 |
| 1996 | 2176.5 |
| 1997 | 2028.0 |
| 1998 | 1784.3 |
| 1999 | 1893.6 |
| 2000 | 1824.3 |
| 2001 | 1681.0 |
| 2002 | 1517.4 |
| 2003 | 1373.8 |
| 2004 | 1741.1 |
| 2005 | 1347.1 |

මධ්‍යන්‍යය 1835.3 mm

*මූලාශ්‍රය:* ශ්‍රී ලංකා කාලගුණ විද්‍යා දෙපාර්තමේන්තුව

**වගු අංක 1** හි දැක්වෙන දත්ත ඇසුරෙන් පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

(i) ඉහත දත්ත ව්‍යාප්තියෙහි මධ්‍යස්ථය (Median) ගණනය කරන්න. (ලකුණු 02 යි)

(ii) **වගු අංක 1** හි දැක්වෙන දත්තවල, මධ්‍යන්‍යයේ සිට ඇති අපගමන ගණනය කරන්න. (ලකුණු 04 යි)

(iii) ඉහත (ii) හි ගණනය කළ දත්ත යොදා ගනිමින් අපගමන ප්‍රස්තාරයක් (Deviation Graph) නිර්මාණය කරන්න. (ලකුණු 10 යි)

(iv) 1991 සිට 2005 තෙක් කාලය සඳහා නුවරඑළියෙහි වර්ෂාපතන රටාව පිළිබඳ ව නිර්මාණය කළ ප්‍රස්තාරයෙන් හඳුනාගත හැකි කරුණු සාකච්ඡා කරන්න. (ලකුණු 04 යි)

* * *

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2016 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2016 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2016

22 | I

භූගෝල විද්‍යාව I
புவியியல் I
Geography I

35733




SCALE 1 : 50 000

සමෝච්ච රේඛා අන්තරය අඩි 100
சமவுயரக்கோடு இடைவெளி 100 அடி

35733

AL/2016/22/S-II





අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2016 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2016 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2016

| | | | |
|---|---|---|---|
| භූගෝල විද්‍යාව II<br>புவியியல் II<br>Geography II | 22 | S | II | පැය තුනයි<br>மூன்று மணித்தியாலம்<br>Three hours |

**උපදෙස් :**
✻ එක් කොටසකින් අවම වශයෙන් ප්‍රශ්න **දෙකක්වත්** තෝරාගෙන, ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.

## I කොටස - භෞතික භූගෝල විද්‍යාව

**1.** (i) කාලගුණය සහ දේශගුණය අතර වෙනස පැහැදිලි කරන්න. (ලකුණු 02 යි)

(ii) දේශගුණය පාලනය කරන සාධක **තුනක්** කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 06 යි)

(iii) කොපන්ගේ දේශගුණ වර්ගීකරණයට අනුව 'නිවර්තන වැසි දේශගුණ (Af)' වර්ගයෙහි දැකිපෙනෙන ලක්ෂණ **තුනක්** විස්තර කරන්න. (ලකුණු 06 යි)

(iv) ශ්‍රී ලංකාවේ වාර්ෂික වර්ෂාපතනයෙහි සෘතුමය රටාව විස්තර කරන්න. (ලකුණු 06 යි)

**2.** (i) පහත දක්වා ඇති ලෝක සිතියමෙහි කාන්තාර ප්‍රදේශ හතරක් ① සිට ④ තෙක් ලකුණු කොට ඇත. එම කාන්තාර **හතර** නිවැරදි ව නම් කරන්න. (ලකුණු 02 යි)




(ii) කාන්තාර ප්‍රදේශවල භූරූප නිර්මාණ ක්‍රියාවලි **තුන** පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

(iii) කාන්තාර ප්‍රදේශවල ජලය නිසා නිර්මාණය වන භූරූප **තුනක්** රූපසටහන් ආධාරයෙන් විස්තර කරන්න. (ලකුණු 06 යි)

(iv) කාන්තාර ප්‍රදේශවල සුළං ඛාදනය නිසා නිර්මාණය වන භූරූප **තුනක්** රූපසටහන් ආධාරයෙන් විස්තර කරන්න. (ලකුණු 06 යි)

**3.** (i) 'ස්වාභාවික ආපදාවක්' යනුවෙන් අදහස් කරන්නේ කුමක් ද? (ලකුණු 02 යි)

(ii) ස්වාභාවික ආපදාවල තීව්‍රතාව උග්‍රවීමට හේතු වන මිනිස් ක්‍රියාකාරකම් **තුනක්** පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

(iii) ආපදා කළමනාකරණ චක්‍රයෙහි (Disaster Management Cycle) ප්‍රධාන අදියර **හතර** කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 06 යි)

(iv) ස්වාභාවික ආපදාවල බලපෑම් අවම කිරීමට ශ්‍රී ලංකාවේ ආණ්ඩු විසින් ගෙන ඇති ක්‍රියාමාර්ග **හතරක්** පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

[දෙවැනි පිටුව බලන්න.

4. (i) 'තෙත්බිමක් (Wetland)' යනුවෙන් අදහස් කරන්නේ කුමක් දැ'යි දක්වන්න. (ලකුණු 02 යි)

(ii) තෙත්බිමකින් සැපයෙන පාරිසරික ඵලප්‍රයෝජන **තුනක්** කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 06 යි)

(iii) ශ්‍රී ලංකාවේ තෙත්බිම් මුහුණ පා ඇති ප්‍රධාන තර්ජන **තුනක්** සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

(iv) තෙත්බිම් සංරක්ෂණය සඳහා ශ්‍රී ලංකාවේ ආණ්ඩු විසින් ගෙන ඇති ක්‍රියාමාර්ග **තුනක්** විස්තර කරන්න. (ලකුණු 06 යි)

## II කොටස - මානුෂ භූගෝල විද්‍යාව

5. (i) ලෝක ජන ව්‍යාප්තිය කෙරෙහි බලපාන සාධක **හතරක්** සඳහන් කරන්න. (ලකුණු 02 යි)

(ii) **වගු අංක I** හි දැක්වෙන දත්තවලින් හඳුනාගත හැකි ලෝක ජන ව්‍යාප්තියෙහි කැපීපෙනෙන ලක්ෂණ **හතරක්** කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 06 යි)

**වගු අංක I**

**ලෝකයේ ජන ව්‍යාප්තිය (%) : 1900 - 2050**

| කලාපය / වර්ෂය | 1900 | 1950 | 2000 | 2050 |
|---|---|---|---|---|
| සංවර්ධනය වන ලෝකය | 69.9 | 71.0 | 82.4 | 86.7 |
| අප්‍රිකාව | 8.1 | 8.8 | 13.4 | 23.5 |
| ආසියාව | 57.3 | 55.6 | 60.5 | 55.2 |
| ලතින් ඇමෙරිකාව හා කැරිබියන් | 4.5 | 6.6 | 8.5 | 8.0 |
| සංවර්ධිත ලෝකය | 30.1 | 29.0 | 17.6 | 13.3 |
| උතුරු ඇමෙරිකාව | 5.0 | 6.8 | 5.2 | 5.0 |
| යුරෝපය | 24.7 | 21.7 | 11.9 | 7.7 |
| ඕෂනියාව | 0.4 | 0.5 | 0.5 | 0.6 |
| ලෝකය | 100.0 | 100.0 | 100.0 | 100.0 |

*මූලාශ්‍රය:* එක්සත් ජාතීන්ගේ ලෝක ජනසංඛ්‍යා වාර්තාව 2010 (සංශෝධිත)

(iii) ඉහත (ii) හි හඳුනාගත් ලෝක ජන ව්‍යාප්තියේ කැපීපෙනෙන ලක්ෂණවලට හේතු වන සාධක **තුනක්** කෙටියෙන් සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

(iv) ලෝක ජන ව්‍යාප්තියේ ස්වභාවය ආශ්‍රිත ගැටලු **හතරක්** කෙටියෙන් සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

6. (i) සියුම් පාරිභෝගික කෘෂිකර්මයෙහි කැපීපෙනෙන ලක්ෂණ **හතරක්** නම් කරන්න. (ලකුණු 02 යි)

(ii) මෑත කාලයේ දී සියුම් පාරිභෝගික කෘෂිකර්මයෙහි ඇති වී තිබෙන වෙනස්කම් **තුනක්** විස්තර කරන්න. (ලකුණු 06 යි)

(iii) ලෝක කෘෂිකාර්මික නිෂ්පාදනයෙහි අලෙවිකරණ ක්‍රියාවලිය කෙරෙහි බලපාන සාධක **තුනක්** සැකෙවින් පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

(iv) ශ්‍රී ලංකාවේ කෘෂිකාර්මික භූමි පරිභෝගයෙහි මෑතකාලීන ප්‍රවණතා **තුනක්** කෙටියෙන් සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

7. (i) ශ්‍රී ලංකාවේ දක්නට ලැබෙන ප්‍රධාන ඛනිජ සම්පත් **හතරක්** නම් කරන්න. (ලකුණු 02 යි)

(ii) ඉහත (i) හි ඔබ නම් කළ ඛනිජ සම්පත්වල ව්‍යාප්තිය කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 04 යි)

(iii) ඛනිජ සම්පත් ශ්‍රී ලංකාවේ ආර්ථික සංවර්ධනයට දායක වන ආකාරය නිදසුන් **හතරක්** දක්වමින් සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

(iv) ශ්‍රී ලංකාවේ ඛනිජ නිෂ්කර්ෂණ (Extraction) කර්මාන්තය ආශ්‍රිත අහිතකර පාරිසරික බලපෑම් **හතරක්** කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 08 යි)

8. (i) 'ගෝලීයකරණය' යනුවෙන් අදහස් කරන්නේ කුමක් දැ'යි දක්වන්න. (ලකුණු 02 යි)

(ii) ගෝලීයකරණ ක්‍රියාවලිය වේගවත් කිරීමට 'අන්තර්ජාලය' දායක වන ආකාරය නිදසුන් **හතරක්** ඇසුරෙන් සැකෙවින් විස්තර කරන්න. (ලකුණු 06 යි)

(iii) ශ්‍රී ලංකාවේ කෘෂිකාර්මික සංවර්ධනය කෙරෙහි තොරතුරු තාක්ෂණයෙහි බලපෑම කෙටියෙන් සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

(iv) තොරතුරු තාක්ෂණය ආශ්‍රිත ව සංවර්ධනය වන රටවල මතු වී ඇති ගැටලු **තුනක්** කෙටියෙන් සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

* * *